OL/2016/11/S-I, II (NEW)



නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

11 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

බුද්ධ ධර්මය I, II
பௌத்தம் I, II
Buddhism I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

## බුද්ධ ධර්මය I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. සිදුහත් බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පත්වීමෙන් පසු කළ ප්‍රථම උදාන වාක්‍යය වන්නේ,
   (1) "අග්ගෝ හමස්මි ලෝකස්ස - ජෙට්ඨෝ හමස්මි ලෝකස්ස" යන්නයි.
   (2) "සබ්බපාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා" යන්නයි.
   (3) "උත්තිට්ඨෙ නප්පමජ්ජෙය්‍ය - ධම්මං සුචරිතං චරෙ" යන්නයි.
   (4) "අනේකජාති සංසාරං - සන්ධාවිස්සං අනිබ්බිසං" යන්නයි.

2. "බමුණ, මම දෙවියෙක්, ගාන්ධර්වයෙක්, යක්ෂයෙක්, මනුෂ්‍යයෙක්, නොවෙමි. මම බුද්ධ නම් වෙමි." බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළේ,
   (1) හුහුංක බමුණාට ය.
   (2) දෝණ බමුණාට ය.
   (3) ජානුස්සෝණි බමුණාට ය.
   (4) සොත්ථිය බමුණාට ය.

3. සිදුහත් බෝසතුන්ගේ ශාන්තබව හා රූපශ්‍රිය දැක "මෙවන් පුතකු ලද මවක් පියෙක් නිවුණෝ වෙති." යනාදි වශයෙන් ප්‍රකාශ කරනු ලැබුවේ,
   (1) කිසාගෝතමිය විසිනි.
   (2) භද්දකච්චානා විසිනි.
   (3) රූප නන්දා විසිනි.
   (4) උප්පලවණ්ණා විසිනි.

4. සුනීත, සෝපාක වැනි අයට පිහිට වීමෙන් ප්‍රකට වන්නේ බුදුරජාණන් වහන්සේ තුළ පැවති,
   (1) යථාවාදී තථාකාරී ගුණයයි.
   (2) පුරිසදම්ම සාරථී ගුණයයි.
   (3) අසරණ සරණ ගුණයයි.
   (4) ගිලානුන්ට උවැටන් කිරීමේ ගුණයයි.

5. සියලු කෙලෙසුන්ගෙන් දුරු වූ හෙයින් ද, රහසින්වත් පව් නො කළ හෙයින් ද, සියලු පූජාවන් ලැබීමට සුදුසු වන හෙයින් ද බුදුරජාණන් වහන්සේ,
   (1) 'අරහං' නම් වන සේක.
   (2) 'සුගතෝ' නම් වන සේක.
   (3) 'බුද්ධෝ' නම් වන සේක.
   (4) 'භගවා' නම් වන සේක.

6. බුදුරජාණන් වහන්සේගේ අසරණ සරණ ගුණය ප්‍රකට වන්නක් ලෙස 'නිබද්ධ චාරිකා' නම් කළ හැකි ය. නිබද්ධ චාරිකා යනු,
   (1) නිතර ගමන්බිමන්වල යෙදීමයි.
   (2) විශේෂ පුද්ගලයකු හෝ පිරිසක් අරභයා වැඩම කිරීමයි.
   (3) රාජරාජ මහාමාත්‍යාදීන් හමුවීමයි.
   (4) දිවා රාත්‍රී දෙකෙහි ම ධර්ම ප්‍රචාරයේ යෙදීමයි.

[දෙවැනි පිටුව බලන්න.

7. බුදුබව පතන බෝසත් උතුමන් විසින් පුරනු ලබන උතුම් පිළිවෙත් සමූහය හැඳින්වෙන්නේ,
(1) දස රාජධර්ම නමිනි. (2) දස පින්කිරියවත් නමිනි.
(3) දස පාරමිතා නමිනි. (4) දස සක්විතිවත් නමිනි.

8. 'ආහාරෙ මත්තඤ්ඤුතා' හෙවත් 'පමණ දැන ආහාර අනුභවය' පිළිබඳ බුදුරජාණන් වහන්සේගෙන් උපදෙස් ලබාගත් රාජ්‍ය පාලකයා වන්නේ,
(1) උදේනි රජතුමා ය. (2) බිම්බිසාර රජතුමා ය.
(3) අජාසත් රජතුමා ය. (4) කොසොල් රජතුමා ය.

9. "යමෙකු පව් කළොත් එයින් ඔහු ම කෙලෙසෙන්නේ ය. පව් නොකළොත් එයින් ඔහු ම පිරිසිදු වන්නේ ය." මෙම අදහස ඇතුළත් ධම්මපද ගාථාවේ මුල් දෙපදය වන්නේ,
(1) "තතං කම්මං කතං සාධු - යං කත්වා අනුතප්පති" යන්නයි.
(2) "අත්තනාව කතං පාපං - අත්තනා සංකිලිස්සති" යන්නයි.
(3) "තංච කම්මං කතං සාධු - යං කත්වා නානුතප්පති" යන්නයි.
(4) "උට්ඨානවතෝ සතිමතෝ - සුචිකම්මස්ස නිසම්මකාරිනෝ" යන්නයි.

10. සිතීමට හා විමසීමට පූර්ණ නිදහස ලබා දුන් බුදුරජාණන් වහන්සේ, යමක් ඇසූ පමණින්, පරම්පරාවෙන් ආ පමණින් ආදී වශයෙන් නොපිළිගත යුතු බව දේශනා කළහ. එම කරුණු ඇතුළත් සූත්‍ර දේශනාව වන්නේ,
(1) කාලාම සූත්‍රයයි. (2) විමංසක සූත්‍රයයි.
(3) අරියපරියේසන සූත්‍රයයි. (4) මහාපරිනිබ්බාන සූත්‍රයයි.

11. සිගාලෝවාද සූත්‍රයේ දැක්වෙන පරිදි ධනය විනාශ වීමට හේතු වන කරුණු අතරට අයත් **නො වන** කරුණක් වන්නේ පහත කවරක් ද?
(1) නුසුදුසු වේලාවන්හි මංමාවත්වල සැරිසැරීම (2) නැටුම්, ගැයුම්, වැයුම් හි ලොල්බව
(3) පවිටු මිතුරන් ඇසුරු කිරීම (4) අනලස්ව කාලය ගත කිරීම

12. 'චින්තාමය ප්‍රඥාව' යන්නෙන් හැඳින්වෙන්නේ,
(1) පොතපත කියවීමෙන් නුවණ දියුණු කර ගැනීමයි.
(2) ගුරුවරයාට සවන්දීමෙන් නුවණ දියුණු කර ගැනීමයි.
(3) භාවනාවෙන් නුවණ දියුණු කර ගැනීමයි.
(4) සිතීමෙන් නුවණ දියුණු කර ගැනීමයි.

13. සිල් රැකීමෙන් ලැබෙන ආනිසංස ගණයට ඇතුළත් **නො වන** කරුණක් වන්නේ,
(1) කීර්තිය පැතිරීමයි. (2) ඕනෑම පිරිසක් වෙත නිර්භයව යා හැකි වීමයි.
(3) සිහිමුළාවී කලුරිය කිරීමයි. (4) මරණින් මතු සුගතියෙහි උපත ලැබීමයි.

14. "භව පච්චයා ජාති" යන්නෙන් පැහැදිලි කරන්නේ,
(1) සත්ත්වයා නැවත සසරට එකතුවීම නිසා සසර ඉපදීම සිදු වීමයි.
(2) තණ්හාව නිසා නැවත භවයක ඉපදීමයි.
(3) ඉපදීම නිසා ජරා මරණාදියට පත්වීමයි.
(4) භවය නිසා නිමක් නැති දුක් අත් විඳීමයි.

15. "චතුරාර්ය සත්‍යය නොදැනීම හේතු කොට ගෙන කුසලාකුසල කර්ම රැස්කරයි." යන්න ප්‍රකාශ වන්නේ,
(1) "අවිජ්ජා පච්චයා සංඛාරා" මගිනි. (2) "සංඛාර පච්චයා විඤ්ඤාණං" මගිනි.
(3) "විඤ්ඤාණ පච්චයා නාම රූපං" මගිනි. (4) "තණ්හා පච්චයා උපාදානං" මගිනි.

16. තණ්හාව මුල්කොටගෙන සමාජයේ කලකෝලාහල ඇති වන බව සඳහන් සූත්‍ර දේශනාව කුමක් ද?
(1) සති පට්ඨාන සූත්‍රය (2) වසල සූත්‍රය (3) මහා නිදාන සූත්‍රය (4) සිගාලෝවාද සූත්‍රය

17. ආහාරයෙහි පමණ දැන අනුභව කිරීම නිසා යහපත් ප්‍රතිඵල ලැබෙන බව භද්දාලි සූත්‍රයෙහි දැක් වේ. එහි සඳහන් යහපත් ප්‍රතිඵලයක් **නො වන්නේ** පහත කවරක් ද?
(1) රෝගාබාධ අඩුවීම (2) නිදුක් බව ලැබීම (3) කාය බලය ලැබීම (4) බුද්ධිමත් බව වැඩිවීම

[තුන්වැනි පිටුව බලන්න.

18. "ලාභෝ අලාභෝ අයසෝ යසෝච" යන ගාථාවෙන් දැක්වෙන්නේ,
(1) හේතුඵල ධර්ම පිළිබඳවයි. (2) සමානාත්මතා ධර්ම පිළිබඳවයි.
(3) ලෝකාධිපති ධර්ම පිළිබඳවයි. (4) අටලෝ දහම පිළිබඳවයි.

19. පරපණ නැසීම, සොරකම, වැරදි කාම සේවනය යන අකුසල් තුනෙන් වැළකීම අරි අටඟි මගෙහි,
(1) සම්මා දිට්ඨියයි. (2) සම්මා සංකප්පයයි
(3) සම්මා කම්මන්තයයි. (4) සම්මා ආජීවයයි.

20. උත්සාහයෙන්, වීර්යයෙන්, දැතේ ශක්තියෙන් දහඩිය වගුරුවා, ධාර්මිකව උපයන ධනය සතර ආකාරයකින් පරිභෝජනය කළ යුතු බව පහදමින් බුදුරජාණන් වහන්සේ විසින් අනේපිඬු සිටුතුමාට දේශනා කළ සූත්‍ර ධර්මය,
(1) ව්‍යග්ඝපජ්ජ නම් වේ. (2) පත්තකම්ම නම් වේ.
(3) අනණ නම් වේ. (4) සිගාලෝවාද නම් වේ.

21. දීඝජාණු කෝලිය පුත්‍රයාට දේශනා කළ, මෙලොව දියුණුවට ඉවහල් වන කරුණු අතර අය වැය ගැන සැලකිලිමත්ව ධනය පරිහරණය කිරීම,
(1) උට්ඨාන සම්පදා නම් වේ. (2) ආරක්ඛ සම්පදා නම් වේ.
(3) කල්‍යාණ මිත්තතා නම් වේ. (4) සමජීවිකතා නම් වේ.

22. පාලකයකු විසින් රටවැසියාගේ යහපත සඳහා තම කාලය, ශ්‍රමය, ධනය, සුව පහසුව කැප කරන්නේ නම්, එය දස රාජධර්මවල හඳුන්වන්නේ,
(1) දානය ලෙසිනි. (2) සීලය ලෙසිනි. (3) පරිත්‍යාගය ලෙසිනි. (4) ඍජුබව ලෙසිනි.

23. තිදොරින් සිදු කරන දස අකුසල කර්ම අතර මනෝ කම්ම ගණයට අයත් **නො වන** කරුණක් වන්නේ පහත කවරක් ද?
(1) අදත්තාදානය (2) අභිධ්‍යාව (3) ව්‍යාපාදය (4) මිථ්‍යාදෘෂ්ටිය

24. දිට්ඨධම්මවේදනීය කර්ම නමින් හැඳින්වෙන්නේ,
(1) මෙලොව දී ම විපාක දෙන කර්මයි. (2) දෙවන භවයේ දී විපාක දෙන කර්මයි.
(3) කවර හෝ භවයක දී විපාක දෙන කර්මයි. (4) විපාක නො දී අහෝසි වී යන කර්මයි.

25. විපාක දෙන ආකාරය අනුව යමෙකු ජීවිත පුරුද්දක් ලෙස නිතර නිතර සිදුකරන කර්ම හා කලින් කරන ලදුව නිතර සිහිකරන කුසලාකුසල චේතනා,
(1) ගරුක කර්ම නම් වේ. (2) ආසන්න කර්ම නම් වේ.
(3) ආචිණ්ණ කර්ම නම් වේ. (4) කටත්තා කර්ම නම් වේ.

26. බුදුරජාණන් වහන්සේ අනුදත් සිරිත් විරිත් සමූහයක් 'සේඛියා' නමින් හැඳින්වේ. එම සේඛියාවල සඳහන් වන පරිදි ආහාර ගැනීමේ දී **නො කළ යුතු** දෙයක් වන්නේ පහත කවරක් ද?
(1) ආහාර ළං කිරීමට කලින් ම මුඛය විවෘත නො කිරීම
(2) සුරු සුරු හඬ නගමින් ආහාර නො ගැනීම
(3) අත ලෙවකමින් ආහාර නො ගැනීම
(4) ඉඳුල් අතින් පැන් බඳුන ගැනීම

27. බුදුරජාණන් වහන්සේ තෝදෙය්‍ය පුත්‍ර සුභ මානවකයාට දේශනා කළ පරිදි ද්වේෂයෙන් තොරව කටයුතු කරන තැනැත්තා,
(1) දීර්ඝායුෂ ඇතිව උපදී. (2) නිරෝගීව උපදී.
(3) රූමත්ව උපදී. (4) යසස් ඇතිව උපදී.

28. බුද්ධාදි ත්‍රිවිධ රත්නයෙහි ගුණ අවබෝධ කොටගෙන ඇතිවන ප්‍රසාදය හෙවත් පැහැදීම බුදුදහමේ හැඳින්වෙන්නේ,
(1) අමූලිකා සද්ධා නමිනි. (2) ආකාරවතී සද්ධා නමිනි.
(3) ආගමික භක්තිය නමිනි. (4) බුද්ධාලම්බනය නමිනි.

29. "අනවජ්ජානි කම්මානි" යන්නෙන් අවධාරණය වන්නේ මින් කවරක් ද?
(1) නිවැරදි රැකියා (2) ඍහත් රැකියා (3) අකුසල කර්ම (4) කුසල කර්ම

[හතරවැනි පිටුව බලන්න.

30. පුද්ගලයාගේ දියුණුවට හා පරිහානියට ඉවහල් වන කරුණු පැහැදිලි කරමින් දේශනා කළ සූත්‍රධර්ම දෙක මොනවා ද?
(1) මහාමංගල සූත්‍රය හා පරාභව සූත්‍රය
(2) ධම්මික සූත්‍රය හා අනණ සූත්‍රය
(3) වසල සූත්‍රය හා පරාභව සූත්‍රය
(4) සිගාලෝවාද සූත්‍රය හා කරණීයමෙත්ත සූත්‍රය

31. දෙවියකු විසින් පුද්ගලයාගේ පිරිහීමට හේතු වන කරුණු කවරේ දැ'යි විමසනු ලැබූ ප්‍රශ්නයට පිළිතුරු වශයෙන් බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කළ කරුණුවලට අයත් **නො වන** කරුණක් වන්නේ,
(1) ධර්මයට අකමැති වීමයි.
(2) නුවණැත්තන් ඇසුරු කිරීමයි.
(3) මහලු වියට පත් දෙමව්පියන්ට නොසැලකීමයි.
(4) මහණ බමුණන් බොරුවෙන් රැවටීමයි.

32. මහනුවර යුගය වන විට පරිහානියට පත්ව තිබූ සම්බුද්ධ ශාසනය නැවත නගා සිටුවීම සඳහා කටයුතු කළ යතිවරයාණන් වහන්සේ,
(1) වැලිවිට අසරණ සරණ සිරි සරණංකර සඟරජ හිමිපාණෝ ය.
(2) වාරියපොල ශ්‍රී සුමංගල හිමිපාණෝ ය.
(3) මීගෙට්ටුවත්තේ ශ්‍රී ගුණානන්ද හිමිපාණෝ ය.
(4) හික්කඩුවේ ශ්‍රී සුමංගල හිමිපාණෝ ය.

33. කෝට්ටේ යුගයේ විසූ වීදාගම මෛත්‍රෙය නාහිමිපාණන් විසින් ලියූ සැදැහැ ගුණ වඩන අගනා කාව්‍ය ග්‍රන්ථය,
(1) ලෝවැඩ සඟරාවයි.
(2) බුදුගුණ අලංකාරයයි.
(3) කාව්‍යශේඛරයයි.
(4) යසෝදරාවතයි.

34. බුදු දහම ස්ථාපිත වීමත් සමග ලංකාවේ ඉදිකළ මුල් ම ස්තූපය වන්නේ,
(1) ගිරිහඬු චෛත්‍යයයි.
(2) මහියංගන චෛත්‍යයයි.
(3) ථූපාරාම චෛත්‍යයයි.
(4) කැලණිය චෛත්‍යයයි.

35. දෙවැනි ධර්ම සංගායනාවේ ප්‍රතිඵල ගණයට අයත් **නො වන** කරුණක් වන්නේ,
(1) වජ්ජිපුත්තක භික්ෂූන් සම්මත කරගත් දස වස්තුව ප්‍රතික්ෂේප වීම ය.
(2) දස වස්තුව පිළිගත් දූර්මතධාරී වජ්ජිපුත්තක භික්ෂූන් සසුනින් ඉවත් කිරීම ය.
(3) නිර්මල ධර්මය හා විනය ගරු කළ භික්ෂු පරපුර ථේරවාදී වශයෙන් සංවිධානය වීම ය.
(4) ධර්ම විනය සුරක්ෂිත කිරීම සඳහා භාණක පරපුරක් භික්ෂූන් අතර බිහි වීම ය.

36. මහින්දාගමනයෙන් ශ්‍රී ලාංකිකයන් ලැබූ දායාද ගණයට අයත් **නො වන** කරුණ වන්නේ,
(1) භික්ෂු සමාජය ආරම්භ වීමයි.
(2) අක්ෂරමාලාවක් ලැබීමයි.
(3) ශ්‍රී මහා බෝධීන් වහන්සේ ලැබීමයි.
(4) ශ්‍රී දළදා වහන්සේ ලැබීමයි.

37. ඔත් පිළිම වැඩහිඳින ඉපැරණි පූජනීය ස්ථාන දෙකකට නිදසුන් ලෙස දැක්විය හැක්කේ,
(1) තන්තිරිමලේ හා පොළොන්නරුවේ ගල්විහාරය ය.
(2) අවුකන හා තන්තිරිමලේ ය.
(3) තිවංක පිළිම ගෙය හා මාලිගාවිල ය.
(4) පොළොන්නරුවේ ගල්විහාරය හා බුදුරුවගල ය.

38. දණහිස් නමා පතුල් උඩු අතට සිටින සේ වම් පතුල දකුණු කලවා මත ද දකුණු පතුල වම් කලවා මත ද තබාගෙන හිඳගෙන සිටින බුද්ධ ප්‍රතිමා ඉරියව්ව හඳුන්වනු ලබන්නේ,
(1) බුද්ධාසන නමිනි.
(2) පද්මාසන නමිනි.
(3) භද්‍රාසන නමිනි.
(4) වීරාසන නමිනි.

39. තම නිවසට පැමිණෙන ආගන්තුකයින්ට සැලකීම දහමේ හැඳින්වෙන්නේ,
(1) ඥාති බලි නමිනි.
(2) රාජ බලි නමිනි.
(3) දේවතා බලි නමිනි.
(4) අතිථි බලි නමිනි.

40. දළදා වහන්සේ ශ්‍රී ලංකාවට වැඩම කරවන අවස්ථාවේ ශ්‍රී ලංකාවේ පාලකයා වූයේ,
(1) මහසෙන් රජතුමා ය.
(2) කිත්සිරිමෙවන් රජතුමා ය.
(3) පළමුවන විජයබාහු රජතුමා ය.
(4) පළමුවන පරාක්‍රමබාහු රජතුමා ය.

**

[පස්වැනි පිටුව බලන්න.